# මාර වස්තුව...

ගනු දෙනු කරන නෙක වස්තුව ලොවේ  හුරු
මනු සත වටින ලෙස සිතුවද මරේ  මරු
සුනු වෙන විටදී දුක දෙයි නම් නොවේ  සරු
දිනු කිසි දෙයක් නැත මෙය වැටහෙනා  තුරු

මරුට අයිති දේ නොම දැන බදා  ගෙන
ලොවට හොරෙන් වින්දද මම මගේ  මෙන
ණයට ගත්ත මිස කෝ ණය නොදී  පැන
ළයට නොමැත නිදහස කිසි ලොවේ  තැන

හරස් වෙන විටදී කම් එල යමෙක්  වෙත
දුරස් වෙන්න කළ හැකි පින් දමක්  ඇත
සකස් කරන්නට ගොස් කම් සැපක්  සත
කෙළෙස් මරුට වැටුනොත් ගැලවුමක්  නැත

කෙළ කෝටියක් තිබුණද වස්තුව  එමට
එළඹෙන දිනක් එයි අත හැරුමට  සැමට
කලකදි උරුම වෙයි නම් මරුවගෙ  නමට
මළ විට කොතෙක් තිබුණද වස්තුව  කුමට

අත්බැව රැකෙන පමණට උපයන  ධනය
කෙත් වතු පිටින් නැතුවට හොඳටම  ගුණය
මෙත් සිත පැතිරුවොත් සතහට එන  පිනය
ගත් හැම වස්තු පරයයි නිවනට  තැනය

සරු ලෙස පෙනෙන වස්තුව දිනයකදී  මතු
මරුටම අයිති වෙයි ඒ බව දැකිය  යුතු
දුරු වෙන තුරු කෙළෙස් මල සියොළඟෙහි  එතු
උරුමය මරණයයි ලොකු පොඩි සැවොම  සතු








පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



# කවදා නිම වෙද මේ
# පර්යේෂණ...





දවසින් දවස නිම වෙන නව උපකරණ
මිනිසුන් වසඟ කරවයි සසරෙහි සරන
අහසින් යන්න කරනා විදු ලොව තරණ
හරසුන් වෙමැයි දවසක් එන විට දිරන

ලොව වට ගගන තලයේ සැරි සරන සත
කවදක නිම කරන්නද තම සිතැඟි මත
දුවනට ගිහින් මස් ලේ ඇස ගැටෙන අත
දවසක මැරෙයි කළ කිසිවක් ඉතිරි නැත

නර ලොව තැනෙන නෙක දෑ මොහොතක් දුවන
පර ලොව යන විටදි නැත පිහිටක් දෙවන
හර නැති වැඩට වෙහෙසෙන මනුසත් නුවණ
මරණය ළඟදි තනි වෙයි නිවනක් නොවන





මුළු දිවියම ගෙවා සෙව්වද ලොවෙහි තතු
සුළුවට ලැබෙන දෙයකුත් නැත භවෙහි මතු
අළු වෙන විටදි නැත කිසිවක් අතෙහි සතු
ඔළුවක් ඇති කලදි නිසි තතු දැකිය යුතු



පිළි සමුපන්න බව දත් විට හැම දේක
එළි වෙයි නැණ නුවණ නිසි තතු දෙන ලෝක
අලියට අල්ල ගෙන දැඟලුව ලොව නේක
මැළි වෙයි යළිදු දැන ගැනුමට වුව කෝක

අති දුලභව ලැබුව මනුසත් භවයෙ සිට
හති වැටෙනකල් විදු ලොව සෙව්මටම බට
ගති අත හැරෙන බුදු බණ පද ඇසෙන විට
නොතිරවු සසර හරිනට ගත යුතුය පොට





පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කර ප්‍රසිද්ධ කරන ලදී.